# ඇපල් ගෙඩිය



ව්. සුතේයෙව්

## වි. සුතේයෙව්

# ඇපල් ගෙඩිය



අනුවාදය

**පද්ම හර්ෂ කුරණාගේ**





සරත් සමය අවසාන වීගෙන එනවා. දැනටමත් ගස්වල කොළ හැලිලා. කැලේ ඇපල් ගහක එකම එක ඇපල් ගෙඩියක් විතරක් ඉතුරු වෙලා තියෙනවා.

මේ සරත් සමයෙ කැලේ දුවන හාවෙක් දැක්කා මේ ඇපල් ගෙඩිය.

කොහොමද මේක කඩාගෙන්නෙ? ඇපල් ගෙඩිය හුඟාක් උඩ. උඩපනින්න බෑ!

"කාක්-කාක්!"

හාවා බැලුවා. බැලින්නම් ගහක් උඩ කාක්කෙක් ඉඳගෙන හිනා වෙනවා.

"ඕයි, කාක්කො! මට ඔය ඇපල් ගෙඩිය කඩල දීපන්!" හාවා කෑ ගහනවා.

කාක්කා ඇපල් ගහට පියඹලා ඇපල් ගෙඩිය කෑඩුවා. නමුත් ඇපල් ගෙඩිය හොටෙන්

ගිලිහිලා බිමට වැටුණා.

"කාක්කො, උඹට ස්තුතියි!" හාවා මෙහෙම කියලා ඇපල් ගෙඩිය ගන්න හදන කොටම පණ ඇති එකෙක් වගේ ඇපල් ගෙඩිය 'ෂ්' ගාලා දුවන්න පටන් ගත්තා.



මේ මොකද?

හාවා බය වුණා. නමුත් පසුව වෙච්ච දේ තේරුණා. ඇපල් ගෙඩිය වැටුණෙ ඇපල් ගහ



යට නිදාගෙන හිටිය ඉත්තෑවකුගෙ පිට උඩ. ඉත්තෑවා උඩ පැනල දුවන්න පටන් ගත්තා. ඇපල් ගෙඩිය ඉත්තෑ කූරුවල ඇනිලා.

"හිටපන්, හිටපන්! කොයිද මගෙ ඇපල් ගෙඩිය ගෙනියන්නෙ?" හාවා කෑගහනවා.

ඉත්තෑවා නතරවෙලා, කියනවා: "මේක මගෙ ඇපල් ගෙඩිය. ඒක වැටුණා, මම ඒක අල්ලා ගත්තා."

හැවා ඉත්තෑවා ළඟට ගිහිල්ලා කියනවා: "දැන්ම දීපන් මගෙ ඇපල් ගෙඩිය! ඒක මමයි හොයා ගත්තෙ!"



එතකොට කාක්කා ඔවුන් ළඟට ඉගිල්ලිලා ආවා. "සණ්ඩු කරන්න වැඩක් නෑ, ඒක මගෙ ඇපල් ගෙඩිය. ඒක මම කඩා ගත්තා."

එකෙකුටවත් බෑ එකඟතාවයකට එන්න. හැම එකෙක්ම කෑගහනවා: "මගෙ ඇපල් ගෙඩිය!" කියල.

මුළු කැලේ පුරාම කෑ ගැසීම්, හඬ ගෑම්. ගුටිබැටත් පටන් අරගෙන: කාක්කා ඉත්තෑවගෙ නහයට කෙටුවා, ඉත්තෑවා හාවාට කූරුවලින් ඇන්නා, හාවා කාක්කාට පයින් ගැහැව්වා...





ඔන්න එතකොට මෙතනට වලහෙක් ආවා. වලහා ගොරවනවා:

"මොකොද මේ? මොකක්ද මේ සද්දෙ?"

එතකොට ඔක්කොම කියනවා:

"අනේ, වලස් හාමි, උඹ තමයි මේ කැලේ ඉන්න ලොකුම එක්කෙනා, මහම නුවණක්කාරයා. අපට යුක්තිය ඉෂ්ට කරල

දෙන්න. මේ ඇපල් ගෙඩිය අයිති කාටද කියල කියන්න." ඉතින් උන් වලහට ඔක්කොම වෙච්ච දේ කීවා.



වලහා හිතුවා, හිතුවා. පස්සෙ කණ කසල අහනවා:

"කවුද ඇපල් ගෙඩිය හොයා ගත්තෙ?"
"මම!" හාවා කීවා.

"කවුද ඇපල් ගෙඩිය කඩා ගත්තෙ?"
"කඩාගත්තෙ මමයි!" කාක්කා කෑ ගැහුවා.

"හොඳයි. ඉතින් කවුද ඒක අල්ල ගත්තෙ?"
"මම අල්ලගත්තෙ!" ඉත්තෑවා කීවා.



"ඔන්න, උඹල ඔක්කොම හරි. ඒ හින්දා උඹල හැම එක්කෙනෙකුටම ඇපල් ගෙඩිය අයිති වෙන්න ඕන..."

"නමුත් මෙතන එක ඇපල් ගෙඩියක් විතරයි නොවැ තියෙන්න!" ඉත්තෑවයි හාවයි කාක්කයි කීවා.

"මේ ඇපල් ගෙඩිය සමාන කොටස්වලට බෙදන්න. හැම එක්කෙනකුටම කෑල්ලක් කන්න ඇහැකි."

එතකොට ඔක්කොම එකට කෑ ගැහුවා:
"අපි මේක කලින් නො හිතපු හැටි!"

ඉත්තෑවා ඇපල් ගෙඩිය අරගෙන එය හතරට බෙදුවා.



එක් කෑල්ලක් හාවාට දීලා කියනවා:

"හාවො මේක උඹට. උඹයි ඉස්සරවෙලාම ඇපල් ගෙඩිය දැක්කෙ."

දෙවැනි පංගුව කාක්කාට දීලා කියනවා:

"කාක්කො, මේක උඹට. උඹයි ඇපල් ගෙඩිය කඩාගත්තෙ."

තුන්වැනි පංගුව ඉත්තෑවා කටේ ඔබාගෙන කියනවා:

"මේක මටයි, මමයි ඇපල් ගෙඩිය අල්ලගත්තෙ."

හතරවැනි පංගුව ඉත්තෑවා වලහගෙ අතට දුන්නා.

"මේක උඹටයි, වලස් හාමි...

"මට මක්කට ද?" වලහා පුදුම වුණා.

"උඹ අපිව සමගි කරපු හින්ද. අපට නුවණ කියල දීපු හින්ද!"

ඉතින් ඔක්කොම දෙනා බොහොම සතුටින් තමුන්ගෙ ඇපල් පංගු කෑවා. ඒ මොකද, වලහ කාවත් තරහ නොකර යුක්තිය ඉෂ්ට කරපු නිසයි.

# ඇපල් ගෙඩිය

කතාව සහ චිත්‍ර
**වි. සුතේයෙව්**

අනුවාදය
**පද්ම හර්ෂ කුරණගේ**

නව සකැසුම
**මාලක ලලනජීව**

ISBN 978-955-1979-03-4

ප්‍රකාශනය




කැනොල් පබ්ලිෂිං හවුස්

2009

